**හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. - කෑගල්ල ශාඛාව (කලින් සීමාසහිත හැටන් නැෂනල් බැංකුව ලෙස හඳුන්වනු ලැබූ)**

1990 අංක 04 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ පවත්වනු ලබන අගනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

කුරුණෑගල ප්‍රසිද්ධ නොතාරිස් එස්. එස්. හේවාපතිරණ විසින් සහතික කරන ලද්දවූ ද, හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. හි නමට ලියන ලද්දවූ ද 2015 ජූලි 28 වැනි දින සහතික කළ අංක 4171 දරන බැඳුම්කරය යටතේ අයවිය යුතු මුදල්ගෙවීම වෙඩික්කාරගේ ජනක ප්‍රසාද් හේමන්ත සහ උපාලි පතිරණලාගේ දිල්රුක්ෂිකා සංජීවනි පතිරණ හෙවත් උපාලි පතිරණගේ දිල්රුක්ෂි සංජීවනි පතිරණ ණයකරුවන් ලෙස පැහැර හැර ඇති හෙයින් හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. විසින් මා වෙත පවරා ඇති බලතල අනුවව අයවිය යුතු ණය මුදල් සියළු ස්ථාපිත ගෙවීම් සහ වෙන්දේසිකරුගේ ගාස්තුව ඇතුළු සියළුම මුදල් අයකර ගැනීම පිණිස පහත සඳහන් දේපළ එම දේපළ පිහිටි ස්ථානයේ දී 2018 ක් වූ ජනවාරි මස 30 වැනි දින පෙ. ව. 11.30 ට මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, බෙලිගල් කෝරළේ ගන්දෙළහේ පත්තුවේ රඹුක්කන ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ කෙහෙල්වතුගොඩ අංක 75 ඒ ග්‍රාම නිලධාරි වසමේ කෙහෙල්වතු ගොඩ ගමේ හි පිහිටි ''බෝගහමුලහේන''නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ජේ. ආර්. එම්. බී. ජයකොඩි විසින් 2015 මැයි මස 20 වැනි දින මැන සාදන ලද අංක 15/337 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් 1 දරන ප්‍රමාණය රූඩ් එකයි පර්චස් එකයි දශම පහ (අ. 0 රූ. 1 පර්. 1.5) විශාල ඉඩම සමග ගොඩනැගිලි සහ එහි පිහිටි සියළු දේත් සමඟ වේ.

ඉහත සඳහන් ලොට් 1 ඉඩම නැවත මැනීමකින් පසු සහ ඒකාබද්ධ කිරීමෙන් පසු මෙසේ විස්තර කෙරේ.

ලොට් 1 පර්චස් විසි හයයි දශම පහක් (අ. 0 රූ. 0 පර්. 26.5)
ලොට් 2 පර්චස් පහළොවක් (අ. 0 රූ. 0 පර්. 15)

යෝජනා සම්මුතිය පිළිබඳ නිවේදනය සඳහා 2017.11.17 වැනි දින රජයේ ගැසට් පත්‍රය සහ 2017.11.23 වැනි දින ලක්බිම, ඩේලිමිරර් සහ තිනකුරල් පුවත්පත් බලන්න.

*ඉඩමට පිවිසීම.* - නගර මාධ්‍යයේ සිට පොල්ගහවෙල පාරේ කි. මී. 7ක් පමණ ගමන් කර කෙහෙල්වතුගොඩ හංදිය හමුවීමට කලින් අදළ දේපළ පාරේ දකුණු අත පැත්තේ පිහිටා ඇත.

*ගෙවීම් ක්‍රමය.* - වෙන්දේසිය අවසන් වූ වහාම උපරිම ලංසු තබන්නා විසින් පහත සඳහන් පරිදි මුදල් වෙන්දේසිකරුට ගෙවිය යුතු යි. චෙක්පත් භාරගනු නොලැබේ.

(01) ගැණුම් මිලෙන් සියයට දහයක් (10%), (02) ප්‍රාදේශීය සභා බදු සඳහා සියයට එකයි (1%), (03) වෙන්දේසිකරුගේ කොමිස් මුදල විකුණුම් මුදලින් සියයට දෙකයි දශම පහයි (2.5%), (04) විකුණුම් කොන්දේසි සහතික කිරීමේ නොතාරිස් ගාස්තුව රු. 2,000, (05) ලිපිකරු හා සෝෂක වේතනය රු. 500, (06) වෙන්දේසිය සඳහා වැය කරන ලද සියළුම ප්‍රචාරක වියදම්, (07) ගැණුම් මිලෙන් ඉතිරි සියයට අනූව (90%) විකිණීමේ දින සිට දින 30ක් තුළ දී හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. වෙත ගෙවිය යුතුයි. දින 30ක් තුළ දී ඉතිරි මුදල නොගෙවුවහොත් ගෙවා ඇති සියයට දහයකට (10%) මුදල ආපසු නොගෙවන අතර, දේපළ නැවත වෙන්දේසියේ විකිණීමට බැංකුවට අයිතිය ඇත.

හිමිකම් ඔප්පු හා අදළ ලේඛන පරීක්ෂා කිරීමට සහ වැඩි විස්තර සඳහා .-

එල්. බී. සේනානායක,
සාම විනිසුරු බලයලත් ජ්‍යෙෂ්ඨ වෙන්දේසිකරු,
තක්සේරුකරු සහ උසාවි කොමසාරිස්.

අංක 200, 2 වැනි මහල,
උසාවිය පාර, කොළඹ 12
දුරකථන අංක 011- 2445393/011-2396520
ෆැක්ස් අංකය : 011-2445393
ඊමේල් senaservice@sltnet.lk

ජ්‍යෙෂ්ඨ කළමණාකරු (ණය අයකිරීම්),
හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී.
අංක 479, ටී. බී. ජයා මාවත,
කොළඹ 10.
දුරකථන අංක : 011- 2664664.

01-399

---

**ලංකා බැංකුව**

1968 අංක 34 දරන පනතින් හා 1974 අංක 10 දරන නීතියෙන් සංශෝධනය කරන ලද ලංකා බැංකු ආඥාපනතේ (397 අධිකාරය) 22 වැනි වගන්තිය යටතේ කරනු ලබන දැන්වීම

1. ණය යොමු අංකය : 73849555

වත්තල, හැඳල, නායකකන්ද පල්ලිය පාරේ, අංක 12/7 හි නාගරාජා තේසරාජා සූසෙයිපිල්ලෙයි මහතාට අයත් උකස් කරන ලද දේපළ විකිණීම.

2. ලංකා බැංකු ආඥාපනතේ 19 වැනි වගන්තිය යටතේ සම්මත කරනු ලැබ ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ 2017.01.06

දිනැති අංක 2001 දරන ගැසට් පත්‍රයේ හා 2016.12.29 දින ''ඩේලිනිව්ස්'' ''දිනමිණ'' හා ''තිනකරන්'' යන පුවත්පත් වල පළ කරන ලද ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ යෝජනා සම්මුතියකට අනුකූලව මුල් ණය මුදලේ ශේෂය ද, විකිණීම කෙරෙන දිනය තෙක් ඒ මත අයවිය යුතු පොලිය ද, ලංකා බැංකු ආඥාපනතේ අංක 26 වන වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු හා මුදල් ද, අයකර ගැනීම පිණිස මෙහි පහත උපලේඛනයේ විස්තර කොට ඇති දේපළ සහ පරිශ්‍ර එකී ස්ථානයේ දී ම 2018.02.15 වැනි දින පෙ. ව. 10.30 ට කොළොන්නාව, විහාර මාවතේ, අංක 50/3 හි පදිංචි ටී ඇන්ඩ් එච් ඔක්ෂන් හි වෙන්දේසිකාර තුසිත කරුණාරත්න මහතා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් දන්වා සිටිමු.

### උපලේඛනය

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, දකුණු අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, හැඳල ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, වත්තල ප්‍රාදේශීය සභා සීමාවේ (හැඳල උපකාර්යාලය) හැඳල පිහිටි (ඔප්පුවට අනුව හැඳල පල්ලිය පාර දිගට පිහිටි) පල්ලිය පාරේ වරිපනම් අංක 12/7සී දරන දෙල්ගහවත්ත හෙවත් නෝවින්ස් ස්ක්වෙයාර් නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු හියු. ආර්. සමරසිංහ විසින් සාදන ලද 2003 සැප්තැම්බර් මස 25 දිනැති පිඹුරෙහි නිරූපිත බලයලත් මිනින්දෝරු හියු. ආර්. සමරසිංහ විසින් සාදන ලද 2004 අප්‍රේල් මස 10 දිනැති උප බෙදීම සහ සහතික සටහනෙහි ලොට් 1ඒ ලෙස දක්වා සීමා නිර්ණය කොට නිරූපණය කර ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 1ඒ උතුරට : පාර ද, නැගෙනහිරට : බලයලත් මිනින්දෝරු පී. ෆීලික්ස් ඩයස් විසින් සාදන ලද 1993 ජූලි මස 09 දිනැති අංක 585 දරන පිඹුරෙහි ලොට් 2බී ද, දකුණට : ලොට් 1බී ද, බස්නාහිරට : බලයලත් මිනින්දෝරු ටී. අමරසිංහ විසින් සාදන ලද අංක 272 දරන පිඹුරෙහි ලොට් 1 ද මායිම්ව එකී අංක 3800 දරන පිඹුරට අනුව පර්චස් හයයි දශම නවයයි දෙකක (අ. 0, රූ. 0, පර්. 6.92) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර එහි ඇති ගහකොළ, වගාවන් සහ වෙනත් සියලු දේ ද වේ. මෙය කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ බී 943/01හි ලියාපදිංචි කර ඇත.

### දෙවැනි උපලේඛනය

එකී හැඳල පල්ලිය පාර දිගට පිහිටි "දෙල්ගහවත්ත හෙවත් නෝර්වින්ස් ස්ක්වෙයාර්" නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු පී. ෆලික්ස් ඩයස් විසින් සාදන ලද 1993 ජූලි මස 9 දිනැති අංක 585 දරන පිඹුරෙහි ලොට් 2බී (පාරට වෙන් කළ කොටස) ලෙස දක්වා ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 2බී උතුරට : බලයලත් මිනින්දෝරු පී. එෆ්. ගුණසේකර විසින් සාදන ලද 1941 මාර්තු මස 8 දිනැති අංක 1886 දරන පිඹුරෙහි නිරූපිත ලොට් ජේ (පාරට වෙන් කළ කොටස) ද, නැගෙනහිරට : නායකකන්ද පාරේ අංක 215/2 සහ සෙන්ට්මේරිස් පාරේ අංක 12/5 දරන පරිශ්‍ර ද, දකුණට : එකී අංක 585 දරන පිඹුරෙහි ලොට් 2සී ද, බස්නාහිරටː එකී අංක 585 දරන පිඹුරෙහි ලොට් 2ඒ ද මායිම්ව එකී අංක 585 දරන පිඹුරට අනුව පර්චස් පහයි දශම පහයි බිංදුවක (අ, 0, රූ. 0, පර්. 5.50) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ බී 918/21 හි ලියාපදිංචි කර ඇත.

එකී හැඳල පල්ලිය පාර දිගට පිහිටි "දෙල්ගහවත්ත හෙවත් නෝර්වින්ස් ස්ක්වෙයාර්" නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු පී. එෆ්. ගුණසේකර විසින් සාදන ලද 1941 මාර්තු මස 8 දිනැති අංක 1886 දරන පිඹුරෙහි ලොට් ජේ (අඩි 20 පළල පාරට වෙන් කළ කොටස) ලෙස දක්වා සීමා නීර්ණය කොට නිරූපණය කර ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් ජේ, උතුරට : ලොට් බී, එෆ් සහ ජී ද, නැගෙනහිරට : ලොට් ජී ද, දකුණට : ලොට් සී, එච් සහ අයි ද, බස්නාහිරට : කෙරවලපිටිය පාර ද මායිම් ව එකී අංක 1886 දරන පිඹුරට අනුව පර්චස් දහතුනක (අ. 0, රූ. 0, පර්. 13) බිම් ප්‍රමාණයකින් යුක්ත වේ. මෙය කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ බී 918/22හි ලියාපදිංචි කර ඇත.

ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

පී. එම්. විතානආරච්චි මිය,
කළමණාකාරිණී,
(පස් වන නගර ශාඛාව වෙනුවට)

ලංකා බැංකුව,
නගර ශාඛාව.

01 - 398

---

### ලංකා බැංකුව - ග්‍රෑන්ඩ්පාස් ශාඛාව

### 1968 අංක 34 දරන පනතින් හා 1974 අංක 10 දරන නීතියෙන් සංශෝධනය කරන ලද ලංකා බැංකු ආඥාපනතේ (397 අධිකාරය) 22 වගන්තිය යටතේ විකිණීම පිළිබඳ දැන්වීම

1. ණය යොමු අංකය : 80204235
ජංගම ගිණුම් අංකය : 79723932
කොළඹ 13, ජම්පටා වීදියේ අංක 190/2 හි පදිංචි සිදම්බරම් සංකරන් මහතාට අයත් උකස් කරන ලද දේපළ විකිණීම

2. ලංකා බැංකු ආඥාපනතේ 19 වැනි වගන්තිය යටතේ සම්මත කරනු ලැබ ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ 2017.11.24 දිනැති අංක 2047 දරන ගැසට් පත්‍රයේ හා 2017.11.15 දින ''ඩේලිනිව්ස්'' ''දිනමිණ'' හා ''තිනකරන්'' යන පුවත්පත් වල පළ කරන ලද ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ යෝජනා සම්මුතියකට අනුකූලව මුල් ණය මුදලේ ශේෂය ද, විකිණීම

කෙරෙන දිනය තෙක් ඒ මත අයවිය යුතු පොලිය ද, ලංකා බැංකු ආඥාපනතේ අංක 26 වන වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු හා මුදල් ද අයකර ගැනීම පිණිස මෙහි පහත උපලේඛනයේ විස්තර කොට ඇති දේපළ සහ පරිශ්‍ර එකී ස්ථානයේ දී ම 2018.01.30 වැනි දින පෙ. ව. 10.30 ට කොළොන්නාව, විහා මාවතේ, අංක 50/3 හි ටී ඇන්ඩ් එච් ඔක්ෂන් හි වෙන්දේසිකාර තුසිත කරුණාරත්න මහතා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් දන්වා සිටිමු.

### උපලේඛනය

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ ප්‍රාදේශීය සභා සීමාවේ අංක 172A දරන හැඳල උතුර ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, ඇටම්පොලවත්ත පාර අසල පාර දිගට පිහිටි ඇටම්පොලවත්ත පාරේ වරිපනම් අංක 108/14 දරන "ඇටම්පොලවත්ත" නමැති ඉඩමේ බලයලත් මිනින්දෝරු කේ. කණකසිංගම් විසින් සාදන ලද 2012 අගෝස්තු මස 18 දිනැති අංක 2651 දරන පිඹුරෙහි ලොට් X ලෙස දක්වා සීමා විස්තර කොට නිරූපණය කර ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් X, උතුරට : ඇටම්පොලවත්ත පාරේ වරිපනම් අංක 108 දරන බලයලත් මිනින්දෝරු ඒ. ඩබ්. තිලකරත්න විසින් සාදන ලද 1989.06.15 දිනැති අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 297ද, නැගෙනහිරට : බලයලත් මිනින්දෝරු ඒ. ඩබ්. තිලකරත්න විසින් සාදන ලද 1989.06.15 දිනැති අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 290 (මීටර් 9.15 (අඩි 30) පළල පාර) සහ ලොට් 302 (ඇල) යන දෙකම ද, දකුණට : ඇටම්පොලවත්ත පාරේ වරිපනම් අංක 102 දරන බලයලත් මිනින්දෝරු ඒ. ඩබ්. තිලකරත්න විසින් සාදන ලද 1989.06.15 දිනැති අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 296 සහ ලොට් 302 (ඇල) ද, බස්නාහිරට : ඇටම්පොලවත්ත පාරේ පිළිවෙලින් වරිපනම් අංක 102 සහ 108 දරන බලයලත් මිනින්දෝරු ඒ. ඩබ්. තිලකරත්න විසින් සාදන ලද 1989.06.15 දිනැති අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 296 සහ 297 ද මායිම්ව එකී අංක 2651 දරන පිඹුරට අනුව රූඩ් තුනයි පර්චස් තිස් හතරක (අ. 0, රූ. 3, පර්. 34) හෙවත් හෙක්ටයාර 0.389510 දරන බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර එහි ඇති පස, ගොඩනැගිලි, ගහකොළ, වගාවන් සහ වෙනත් සියලු දේ ද වේ. මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 274/36 හි ලියාපදිංචි කර ඇත.

### II වැනි උපලේඛනය

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ ප්‍රාදේශීය සභා සීමාවේ අංක 172A දරන හැඳල උතුර ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, වත්තල මාබෝල නගර සභා සීමාවේ 1 වන කොටසෙහි පිහිටි "බකිනිගහවෙල" හෙවත් "දෙවටගහ" හෙවත් "දෙල්දූවකුඹුර" දැන් "බංගලාවත්ත" නමැති ඉඩමේ බලයලත් මිනින්දෝරු කේ. බාලසුන්දරම් විසින් සාදන ලද 1980 නොවැම්බර් මස 16 දිනැති අංක 53/1980 දරන මැනුම් පිඹුරෙහි ලොට් 2 (අඩි 30 පළල පාරට වෙන් කළ කොටස) ලෙස දක්වා සීමා විස්තර කොට නිරූපණය කර ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 2, උතුරට : මීගමු පාරේ වරිපනම් අංක 775/1 සහ 775/5 (කොටස) දරන එම ඉඩමේ ඉතිරි කොටස සහ PPA 4413/1 දරන මාබෝල රජයේ පාසල ද, නැගෙනහිරට : මීගමු පාර සහ මීගමු පාරේ වරිපනම් අංක 775/1 (කොටස) දරන එම ඉඩමේ ඉතිරි කොටස ද, දකුණට : මීගමු පාරේ වරිපනම් අංක 775/1 දරන පරිශ්‍රය සහ බලයලත් මිනින්දෝරු එච්. රාජපක්ෂ විසින් සාදන ලද 1979 ජූනි මස 14 දිනැති අංක 79/08 දරන පිඹුරේ ලොට් 1 ද, බස්නාහිරට : බලයලත් මිනින්දෝරු කේ. බාලසුන්දරම් විසින් සාදන ලද 1980 අගෝස්තු මස 16 දිනැති අංක 52/1980 දරන පිඹුරෙහි ලොට් 1 සහ මෙහි ලොට් 1 ද මායිම්ව එකී අංක 53/1980 දරන පිඹුරට අනුව අක්කර එකක (අ. 1, රූ. 0, පර්. 0) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 78/50හි ලියාපදිංචි කර ඇත.

එකී මාබෝල පිහිටි "බකිනිගහවෙල" හෙවත් "දෙවටගහ" හෙවත් " දෙල්දූවකුඹුර" දැන් "බංගලාවත්ත" නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ඒ. ඩබ්. තිලකරත්න විසින් සාදන ලද 1988 සැප්තැම්බර් මස 20 දිනැති අංක 108 දරන මැනුම් පිඹුරෙහි ලොට් A (අඩි 40 පළල පාරට වෙන් කළ කොටස) ලෙස දක්වා සීමා විස්තර කොට ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් A, උතුරට : ඊ. සී. ගුණතිලකට අයත් එම ඉඩමේ ඉතිරි කොටස ද, නැගෙනහිරට : අඩි 30 පළල පාර (අංක 53/1980) දරන පිඹුරෙහි ලොට් 2) ද, දකුණට : ලොට් B ද, බස්නාහිරට : මීගමු ඇල ද මායිම්ව එකී අංක 108 දරන පිඹුරට අනුව රූඩ් එකයි පර්චස් දහතරක (අ. 0, රූ. 1, පර්. 14) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 78/31හි ලියාපදිංචි කර ඇත.

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, වත්තල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ ප්‍රාදේශීය සභා සීමාවේ අංක 172A දරන හැඳල උතුර ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ 2 D. D. C. ගම්පහ හැඳල උපකාර්යාලයේ, කෙරවලපිටිය සහ හැඳල යන ග්‍රාමයන්හි මාගම්මනමුලවත්තෙහි ලොට් 1 සහ ඇටම්පොලවත්තෙහි ලොට් 1 නමැති ඉඩමෙහි බලයලත් මිනින්දෝරු ඒ. ඩබ්. තිලකරත්න විසින් සාදන ලද 1989 ජූනි මස 15 දිනැති අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 37 (අඩි 30 සිට 40 දක්වා පළල පාරට වෙන් කළ කොටස) ලෙස දක්වා සීමා විස්තර කොට ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 37, උතුරට : ලොට් 26, 14, 246 සිට 252 දක්වා ද, 281 සහ 286 ද, නැගෙනහිරට : පරණ මීගමු ඇල සහ ලොට් 282 හා 283 ද, දකුණට : ලොට් 286, 282, 283, 237, 234, 233, 230, 229, 226, 225, 38, 39, 40, 41, 42 සහ 43 ද, බස්නාහිරට : ලොට් 218, 238, 237 සහ 145 ද, මායිම්ව එකී අංක 104/A දරන පිඹුරට අනුව අක්කර එකයි පර්චස් පහක (අ. 1, රූ. 0, පර්. 5) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 78/32හි ලියාපදිංචි කර ඇත.

එකී කෙරවලපිටිය සහ හැඳල ග්‍රාමයන්හි පිහිටි මාගම්මනමුලවත්තෙහි ලොට් 1 සහ ඇටම්පොලවත්තෙහි ලොට් 1 නමැති ඉඩමෙහි අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 283 (අඩි 10 පළල වෙන් කළ කොටස) ලෙස දක්වා සීමා විස්තර කොට ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 283 උතුරට :

ලොට් 207, 208, 209, 215, 216, 245, 218, 37 සහ 282 ද, නැගෙනහිරට : ලොට් 286 ද, දකුණට : ලොට් 284 ද, බස්නාහිරට: මාගම්මනමුලවත්තෙහි ලොට් 2 ද මායිම්ව එකී අංක 104/A දරන පිඹුරට අනුව රූඩ් එකයි පර්චස් පහළොවක (අ. 0, රූ. 1, පර්. 15) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 78/33හි ලියාපදිංචි කර ඇත.

එකී කෙරවලපිටිය සහ හැඳල ග්‍රාමයන්හි පිහිටි, මාගම්මනමුලවත්තෙහි ලොට් 1 සහ ඇටම්පොලවත්තෙහි ලොට් 1 නමැති ඉඩමෙහි අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 285 ලෙස දක්වා (අඩි 10 පළල වෙන් කළ කොටස) සීමා විස්තර කොට ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 284 උතුරට : ලොට් 285 ද, නැගෙනහිරට : ලොට් 286 ද, දකුණට : ලොට් 287, 290, 288, 289, 291, 292 සහ 293 ද, බස්නාහිරට : කලින් කේ. සීතා ලෙච්චිමීට අයත් දැන් පී. ආර්. රත්නායක සහ වෙනත් අයට අයිති මැදඹළුවාවේ වෙල්යාය ද, මායිම්ව එකී අංක 104/A දරන පිඹුරට අනුව රූඩ් එකයි පර්චස් විසි අටයි දශම එකක (අ. 0, රූ. 1, පර්. 28.1) බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර, මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 78/79 හි ලියාපදිංචි කර ඇත.

එකී කෙරවලපිටිය සහ හැඳල ග්‍රාමයන්හි පිහිටි මාගම්මනමුලවත්තෙහි ලොට් 1 සහ ඇටම්පොලවත්තෙහි ලොට් 1 නමැති ඉඩමෙහි අංක 104/A දරන මැනුම් පිඹුරෙහි ලොට් 290 (අඩි 30 පළල වෙන් කළ කොටස) ලෙස දක්වා සීමා විස්තර කොට ඇති බෙදූ ඉඩම් කැබැල්ල එනම් එකී ලොට් 290 උතුරට : බලයලත් මිනින්දෝරු එම්. ඩී. ජේ. වී. පෙරේරා විසින් සාදන ලද අංක 10054/A දරන පිඹුරෙහි නිරූපිත එම ඉඩමේ කොටසක් සහ ලොට් 293, 292, 294, 295 , 291. 289, 288 සහ 285 ද, නැගෙනහිරට : ලොට් 287, 289, 298, 300, 302, 304, 305 සහ 294 ද, දකුණට : ලොට් 299, 298, 305, 297, 296 සහ බලයලත් මිනින්දෝරු එම්. ඩී. ජේ. වී. පෙරේරා විසින් සාදන ලද අංක 8772 දරන පිඹුරෙහි නිරූපිත එම ඉඩමේ කොටසක් ද, බස්නාහිරට : ලොට් 288, 303, 302, 301, 297 (අඩි 20 පළල පාර) සහ බලයලත් මිනින්දෝරු එම්. ඩී. ජේ. වී .පෙරේරා විසින් සාදන ලද අංක 10054/A දරන එකී පිඹුරෙහි නිරූපිත එම ඉඩමේ කොටස ලොට් 295 ද මායිම්ව එකී අංක 104/A දරන පිඹුරට අනුව අක්කර දෙකයි රූඩ් එකයි පර්චස් තුනක (අ. 2, රූ. 1, පර්. 3)ක බිම් ප්‍රමාණයකින් යුක්ත වන අතර මෙය ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ L 78/80හි ලියාපදිංචි කර ඇත.

මේ සමග මෙයට CO/2207/LRC/CO/3043/CO/ 1 දරන පිඹුරෙහි නිරූපිත පාර මතින් පාරේ අයිතිය ද ඇත.

ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

එච්. පී. ආර්. පතිරණ මිය,
කළමනාකරු.

ලංකා බැංකුව,
ග්‍රෑන්ඩ්පාස් ශාඛාව.

01-396

## ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී
(කලින් සී/ස ඩී එෆ් සී සී වර්ධන බැංකුව ලෙස හැඳින්වූ)

1990 අංක 04 දරන බැංකු විසින් ප්‍රදානය කරන ලද ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතෙහි 8 වන වගන්තිය යටතේ වටිනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

**අංක 707 දරන උකස්කරය යටතේ උකස් කරන ලද දේපළ පිළිබඳ විස්තර**

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ, උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද, හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන බලයලත් මිනින්දෝරු ඒ. ඒ. පී. ඒ. රංජිත් විසින් සාදන ලද 2011 අගෝස්තු මස 29 වැනි දිනැති අංක 1876 දරන පිඹුරේ ලොට් අංක AT ලෙස දැක්වෙන සීමා නිර්ණය කර බෙද වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0 රූඩ් 01 පර්. 20.96

එහි පිහිටි ගොඩනැගිලි, ගස්වැල්, වගාවන් සහ සියල්ල සහිතව ගම්පහ ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ ලියාපදිංචි කර ඇත.

බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද, 1998 මාර්තු මස 11 වැනි දිනැති අංක 1397 දරන පිඹුරේ ලොට් අංක 4 සහ 5 ලෙස දැක්වෙන බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 02 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 255, 265 සහ 253 ලෙස දැක්වෙන බිම් කට්ටි හරහා වැටී ඇති මාර්ග අයිතිය ද සමග,

ගම්පහ ප්‍රසිද්ධ නොතාරිස් ප්‍රදීප් පී. වික්‍රමතිලක විසින් සහතික කරන ලද 2011 නොවැම්බර් මස 25 දිනැති අංක 707 දරන උකස්කරය ප්‍රකාර, කඩවත, ''කඩවත ජුකී සෙන්ටර්'' නම් තනි පුද්ගල ව්‍යාපාරය පවත්වාගෙන යන චමින්ද පුෂ්පකුමාරසිරි ඩිලමෝට් විසින් ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී (කලින් සී/ස ඩී එෆ් සී සී වර්ධන බැංකුව) ට උකස් කරන ලදුව, ගෙවීම්වල දී පොරොන්දු නිසියාකාරව ඉෂ්ට නොකරන ලද දේපළ.

ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී විසින් අප වෙත පවරන ලද බලය යටතේ අප විසින් 2018 ජනවාරි මස 30 වැනි දින (අඟහරුවාද) පෙ. ව. 11.00 ට පිහිටි ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

ගෙවීමේ ක්‍රමය. - මිළ තීන්දු වූ වහාම සාර්ථක ගැණුම්කරු විසින් පහත සඳහන් මුළු මුදල් මුදලින් ගෙවිය යුතු ය.

1. ගැණුම් මිලෙන් 10% ක් (සියයට දහයක්),
2. පළාත් අධිකාරියට ගෙවිය යුතු 1% ක (සියයට එකක) විකුණුම් බදු,
3. වෙන්දේසිකරුගේ කොමිස්මුදල ගැණුම් මිලෙන් 2 1/2% ක (සියයට දෙකහමාර) සහ එම කොමිස් මුදලට අදළ සියලුම බදු,

4. රු. 110,000 ක් වන සම්පූර්ණ ප්‍රචාරක පිරිවැය,
5. ලිපිකරුගේ හා සෝෂකගේ ගාස්තුව රු. 1,000,
6. විකුණුම් කොන්දේසි සඳහා නොතාරිස් ගාස්තුව රු. 2,000.

ගැණුම් මිලෙන් 90% (සියයට අනූව) ක් වූ ඉතිරිය ද, ශ්‍රී ලංකා ආණ්ඩුව විසින් හෝ වෙනත් අධිකාරියක් විසින් හෝ පනවනු ලබන වෙනත් ව්‍යවස්ථාපිත බදු, තීරු බදු, අය බදු හෝ ගාස්තු අය කිරීම් ද වෙතොත් ඒවා ද සමග වෙන්දේසි දින සිට දින 30ක් ඇතුළත ගෙවිය යුතු වේ.

වැඩි විස්තර සඳහා කරුණාකර ඩී එෆ් සී සී බැංකුව, පී එල් සී නීති දෙපාර්තමේන්තුව අමතන්න. දුරකථන අංක : 011 - 2371371.

ඉහත වෙන්දේසිය පෙර දනුම්දීමකින් තොරව නවතා ගැනීමේ /අවලංගු කිරීමේ පූර්ණ අයිතිය බැංකුව සතු ය.

ෂොක්මන් සහ සමරවික්‍රම,<br>
එකම රටක් එකම වෙන්දේසිකරුවෙක්,<br>
වසර 126 ක සේවා විශිෂ්ටත්වය සමගින්.

*ප්‍රධාන කාර්යාලය :*<br>
අංක 24, ටොරින්ටන් පාර,<br>
මහනුවර.<br>
දුරකථන අංකය : 081 - 2227593<br>
දුරකථන/ෆැක්ස් අංකය : 081-2224371<br>
ඊමේල් : schokmankandy@sltnet.lk

*නගර කාර්යාලය හා ප්‍රදර්ශනාගාරය :*<br>
අංක 290, හැව්ලොක් පාර,<br>
කොළඹ 05<br>
දුරකථන අංක : 011-2502680, 2585408<br>
දුරකථන/ෆැක්ස් අංකය : 011- 2588176<br>
ඊමේල් : schokman@samera1892.com

වෙබ් අඩවිය : www.sandslanka.com

01-348

---

**ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී**

(ඩී එෆ් සී සී වර්ධන බැංකුවෙහි අනුප්‍රාප්තික)

1990 අංක 04 දරන බැංකු විසින් ප්‍රදානය කරන ලද ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතෙහි 8 වන වගන්තිය යටතේ වටිනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

**අංක 710 දරන උකස්කරය යටතේ උකස් කරන ලද දේපළ පිළිබඳ විස්තර**

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ, උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද, හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන (ඉහත කී අංක 1404 දරන පිඹුරට අනුව මෙම ඉඩම හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත සහ මහරිටලන්ද ලෙස හැඳින්වේ.) බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 11 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 43 ලෙස දක්වෙන සීමා නිර්ණය කර බෙද වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0 රූඩ් 0 පර්. 13.60

එහි පිහිටි ගොඩනැගිලි, ගස්වැල්, වගාවන් සහ සියල්ල සහිතව ගම්පහ ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ ලියාපදිංචි කර ඇත.

*මාර්ග අයිතිය .-*

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන (ඉහත කී අංක 1404 දරන පිඹුර අනුව මෙම ඉඩම හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත සහ මහරිටලන්ද ලෙස හැඳින්වේ.) බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 02 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 265 ලෙස දක්වෙන සීමා නිර්ණය කර බෙදා වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0, රූඩ් 03, පර්. 07.69

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ, උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන (ඉහත කී අංක 1404 දරන පිඹුරට අනුව මෙම ඉඩම හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත සහ මහරිටලන්ද ලෙස හැඳින්වේ) බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 02 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 267 (අගල) ලෙස දක්වෙන සීමා නිර්ණය කර බෙද වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0, රූඩ් 0, පර්. 08.38

ගම්පහ ප්‍රසිද්ධ නොතාරිස් ප්‍රදීපා පී. වික්‍රමතිලක විසින් සහතික කරන ලද 2011 නොවැම්බර් මස 25 දිනැති අංක 710 දරන උකස්කරය ප්‍රකාර, කඩවත, ''කඩවත ජුකී සෙන්ටර්'' නම් තනි පුද්ගල ව්‍යාපාරය පවත්වාගෙන යන චමින්ද පුෂ්පකුමාරසිරි ඩිලමෝට් විසින් ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී (කලින් සී/ස ඩී එෆ් සී සී වර්ධන බැංකුව) ට උකස් කරන ලදුව, ගෙවීම්වල දී පොරොන්දු නිසියාකාරව ඉෂ්ට නොකරන ලද දේපළ.

ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී විසින් අප වෙත පවරන ලද බලය යටතේ අප විසින් 2018 ජනවාරි මස 30 වැනි දින (අඟහරුවාද) මධ්‍යහන 12.00ට පිහිටි ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

ගෙවීමේ ක්‍රමය. - මිළ තීන්දු වූ වහාම සාර්ථක ගැණුම්කරු විසින් පහත සඳහන් මුළු මුදල් මුදලින් ගෙවිය යුතු ය.

1. ගැණුම් මිලෙන් 10% ක් (සියයට දහයක්),
2. පළාත් අධිකාරියට ගෙවිය යුතු 1% ක (සියයට එකක) විකුණුම් බදු,
3. වෙන්දේසිකරුගේ කොමිස් මුදල ගැණුම් මිලෙන් 2 1/2% ක (සියයට දෙකහමාර) සහ එම කොමිස් මුදලට අදළ සියලුම බදු,
4. රු. 110,000 ක් වන සම්පූර්ණ ප්‍රචාරක පිරිවැය,
5. ලිපිකරුගේ හා සෝෂකගේ ගාස්තුව රු. 1,000,
6. විකුණුම් කොන්දේසි සඳහා නොතාරිස් ගාස්තුව රු. 2,000.

ගැණුම් මිලෙන් 90% (සියයට අනූව) ක් වූ ඉතිරිය ද ශ්‍රී ලංකා ආණ්ඩුව විසින් හෝ වෙනත් අධිකාරියක් විසින් හෝ පණවනු ලබන වෙනත් ව්‍යවස්ථාපිත බදු, තීරු බදු, අය බදු හෝ ගාස්තු අය කිරීම් ද වෙතොත් ඒවා ද සමග වෙන්දේසි දින සිට දින 30ක් ඇතුළත ගෙවිය යුතු වේ.

වැඩි විස්තර සඳහා කරුණාකර ඩී එෆ් සී සී බැංකුව, පී එල් සී නීති දෙපාර්තමේන්තුව අමතන්න. දුරකථන අංක : 011 - 2371371.

ඉහත වෙන්දේසිය පෙර දැනුම්දීමකින් තොරව නවතා ගැනීමේ /අවලංගු කිරීමේ පූර්ණ අයිතිය බැංකුව සතු ය.

ෂොක්මන් සහ සමරවික්‍රම,
වෙන්දේසිකරු.

*ප්‍රධාන කාර්යාලය :*
අංක 24, ටොරින්ටන් පාර,
මහනුවර.
දුරකථන අංකය : 081 - 2227593,
දුරකථන/ෆැක්ස් අංකය : 081-2224371,
ඊමේල් : schokmankandy@sltnet.lk

*නගර කාර්යාලය හා ප්‍රදර්ශනාගාරය :*
අංක 290, හැව්ලොක් පාර,
කොළඹ 05
දුරකථන අංක : 011-2502680, 2585408,
දුරකථන/ෆැක්ස් අංකය : 011- 2588176.
ඊමේල් : schokman@samera1892.com

වෙබ් අඩවිය : www.sandslanka.com

---

01-349

**ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී**
(ඩී එෆ් සී සී වර්ධන බැංකුවෙහි අනුප්‍රාප්තික)

1990 අංක 04 දරන බැංකු විසින් ප්‍රදානය කරන ලද ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතෙහි 8 වන වගන්තිය යටතේ වටිනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

**අංක 712 දරන උකස්කරය යටතේ උකස් කරන ලද දේපළ පිළිබඳ විස්තර**

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ, උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද, හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන (ඉහත කී අංක 1404 දරන පිඹුරට අනුව මෙම ඉඩම හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත සහ මහරිටලන්ද ලෙස හැඳින්වේ) බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 02 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 227 ලෙස දක්වෙන සීමා නිර්ණය කර බෙද වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0, රූඩ් 0, පර්. 13.96.
එහි පිහිටි ගොඩනැගිලි, ගස්වැල්, වගාවන් සහ සියල්ල සහිතව ගම්පහ ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ ලියාපදිංචි කර ඇත.

මාර්ග අයිතිය .-
බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන (ඉහත කී අංක 1404 දරන පිඹුර අනුව මෙම ඉඩම හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත සහ මහරිටලන්ද ලෙස හැඳින්වේ.) බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 02 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 238 ලෙස දක්වෙන සීමා නිර්ණය කර බෙදා වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0, රූඩ් 0, පර්. 31.
ගම්පහ ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ ලියාපදිංචිකර ඇත.

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ සියනෑ කෝරළේ අධිකාරි පත්තුවේ, උඩුපිල සහ නාරංවල පිහිටි, හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත ලෙස හැඳින්වෙන (ඉහත කී අංක 1404 දරන පිඹුරට අනුව මෙම ඉඩම හොරගහලන්ද හෙවත් හොරහේනවත්ත සහ මහරිටලන්ද ලෙස හැඳින්වේ.) බලයලත් මිනින්දෝරු කේ. ඩී. ජී. වීරසිංහ විසින් සාදන ලද 1998 අප්‍රේල් මස 02 වැනි දිනැති අංක 1404 දරන පිඹුරේ ලොට් අංක 244 ලෙස දක්වෙන සීමා නිර්ණය කර බෙද වෙන් කරන ලද බිම් කට්ටිය.

ඉඩමේ ප්‍රමාණය : අක්. 0, රූඩ් 0, පර්. 22.03.
ගම්පහ ඉඩම් ලියාපදිංචි කාර්යාලයේ ලියාපදිංචි කර ඇත.

ගම්පහ ප්‍රසිද්ධ නොතාරිස් ප්‍රදීපා පී. වික්‍රමතිලක විසින් සහතික කරන ලද 2011 නොවැම්බර් මස 25 දිනැති අංක 712 දරන උකස්කරය ප්‍රකාර, කඩවත, ''කඩවත ජුකී සෙන්ටර්'' නම් තනි පුද්ගල ව්‍යාපාරය පවත්වාගෙන යන චමින්ද පුෂ්පකුමාරසිරි ඩිලමෝට් විසින් ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී (කලින් සී/ස ඩී එෆ් සී සී වර්ධන බැංකුව) ට උකස් කරන ලදුව, ගෙවීම්වල දී පොරොන්ද නිසියාකාරව ඉෂ්ට නොකරන ලද දේපළ.

ඩී එෆ් සී සී බැංකුව පීඑල්සී විසින් අප වෙත පවරන ලද බලය යටතේ අප විසින් 2018 ජනවාරි මස 30 වැනි දින (අඟහරුවාද ප. ව. 1.00 ට පිහිටි ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

*ගෙවීමේ ක්‍රමය.* - මිළ තීන්දු වූ වහාම සාර්ථක ගැණුම්කරු විසින් පහත සඳහන් මුළු මුදල් මුදලින් ගෙවිය යුතු ය.

1. ගැණුම් මිලෙන් 10% ක් (සියයට දහයක්),
2. පළාත් අධිකාරියට ගෙවිය යුතු 1% ක (සියයට එකක) විකුණුම් බදු,
3. වෙන්දේසිකරුගේ කොමිස්මුදල ගැණුම් මිලෙන් 2 1/2% ක (සියයට දෙකහමාර) සහ එම කොමිස් මුදලට අදළ සියලුම බදු,
4. රු. 123,000 ක් වන සම්පූර්ණ ප්‍රචාරක පිරිවැය,
5. ලිපිකරුගේ හා සෝෂකගේ ගාස්තුව රු. 1,000,
6. විකුණුම් කොන්දේසි සඳහා නොතාරිස් ගාස්තුව රු. 2,000.

ගැණුම් මිලෙන් 90% (සියයට අනුව) ක් වූ ඉතිරිය ද ශ්‍රී ලංකා ආණ්ඩුව විසින් හෝ වෙනත් අධිකාරියක් විසින් හෝ පනවනු ලබන වෙනත් ව්‍යවස්ථාපිත බදු, තීරු බදු, අය බදු හෝ ගාස්තු අය කිරීම් ද වෙතොත් ඒවා ද සමග වෙන්දේසි දින සිට දින 30ක් ඇතුළත ගෙවිය යුතු වේ.

වැඩි විස්තර සඳහා කරුණාකර ඩී එෆ් සී සී බැංකුව, පී එල් සී නීති දෙපාර්තමේන්තුව අමතන්න. දුරකථන අංක : 011 - 2371371.

ඉහත වෙන්දේසිය පෙර දැනුම්දීමකින් තොරව නවතා ගැනීමේ /අවලංගු කිරීමේ පූර්ණ අයිතිය බැංකුව සතු ය.

ශොක්මන් සහ සමරවික්‍රම,
වෙන්දේසිකරුවෝ.

*ප්‍රධාන කාර්යාලය :*
අංක 24, ටොරින්ටන් පාර,
මහනුවර.
දුරකථන අංකය : 081 - 2227593
දුරකථන/ෆැක්ස් අංකය : 081-2224371
ඊමේල් : schokmankandy@sltnet.lk

*නගර කාර්යාලය හා ප්‍රදර්ශනාගාරය :*
අංක 290, හැව්ලොක් පාර,
කොළඹ 05
දුරකථන අංක : 011-2502680, 2585408
දුරකථන/ෆැක්ස් අංකය : 011- 2588176
ඊමේල් : schokman@samera1892.com

වෙබ් අඩවිය : www.sandslanka.com

01-350

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.

# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

අංක 2,054 - 2018 ජනවාරි මස 12 වැනි සිකුරාදා - 2018.01.12

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## III කොටස - ඉඩම්

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)



*සැ. යු.* -(i) නිමල් රූපසිංහ මිත්‍රත්ව පදනම (සංස්ථාගත කිරීමේ) පනත් කෙටුම්පත 2018 ජනවාරි මස 05 වැනි දින *ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ* II වැනි කොටසේ අතිරේකයක් වශයෙන් පළකරන ලදී.

(ii) පොතුවටවන මහා විහාරය පදනම (සංස්ථාගත කිරීමේ) පනත් කෙටුම්පත 2018 ජනවාරි ස 05 වැනි දින *ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ* II වැනි කොටසේ අතිරේකයක් වශයෙන් පළකරන ලදී.

**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

### වැදගත් නිවේදනයයි

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළකරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකිරීම සඳහා දැන්වීම් භාරගැනීම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00 ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි *ගැසට් පත්‍රය* පළ වූ දින සිට තෙමසකට පසුව භාරගනු නොලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකරන සෑම දැන්වීමක් ම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනට සති දෙකකට පෙර එනම්, 2018 පෙබරවාරි මස 02 වැනි දින පළකෙරෙන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 ජනවාරි මස 19 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර තැපෑලෙන් හෝ ගෙනැවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගනුදෙනු පනත - 9 වැනි වගන්තිය**

" යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළකළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන *ගැසට්* පත්‍රයක පළකරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණ කර ඇත්තාක් සේ සැලකිය යුතුය."

ගංගානි ලියනගේ,
රජයේ මුද්‍රණාලයාධිපති *(වැ. බ.)*.

2018 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,

*මෙම ගැසට් පත්‍රය www. documents.gov. lk වෙබ් අඩවියෙන් බාගත කළ හැක.*

# ඉඩම් සංවර්ධන ආඥාපනත යටතේ දැන්වීම්

මගේ අංකය : 8/3/6/සෝ/19.

**ඉඩම් සංවර්ධන ආඥාපනතේ 19 වැනි වගන්තියේ (4) වැනි උපවගන්තිය යටතේ නිකුත් කරන ලද ප්‍රදාන පත්‍රය අවලංගු කිරීම - (104 වගන්තිය) සඳහා වූ නිවේදනය**

මධ්‍යම පළාතේ, පළාත් සභාවේ මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, ප්‍රාදේශීය ලේකම් කළහේ පාඩි කෝරාළගේ ලංකා ප්‍රියානී මධුවන්තී වන මම ඉඩම් සංවර්ධන ආඥපනතේ 19 වැනි වගන්තියේ (4) වැනි උප වගන්තිය යටතේ ජනාධිපති වරයා විසින් 1986.04.22 වැනි දින ප්‍රදනය කරන ඇති අංක මාතලේ/ප්‍ර/6936 දරන ප්‍රදාන පත්‍රයේ හිමිකරු වන අංක 81, දුනුකේවත්ත පලාපත්වල මාතලේ පදිංචි එන්. ජී. සුභරත්න මහතා වෙත ප්‍රදනය කොට මාතලේ දිස්ත්‍රික් රෙජිස්ට්‍රාර් කාර්යාලයේ අංක දු 206/1162/91 යටතේ 1991.11.19 වැනි දින ලියාපදිංචි කරනු ලැබ ඇති පහත උපලේඛනයේ දක්වෙන ඉඩමට අනුප්‍රාප්තිකයෙකු වීම සඳහා නීත්‍යානුකූලව හිමි අයෙකු නොමැති වීමෙන් හෝ හිමිකම් ඇති අයෙකු සිටිය ද ඔහු/ඇය අනුප්‍රාප්තිකයෙකු වීමට අකමැති වීමෙන් අනුප්‍රාප්තිකභාවයට කෙනෙකු පත්වීමට නැතැයි වාර්තා වී ඇති බැවින් එකී දීමනා පත්‍රය උක්ත පනතේ 104 වගන්තිය යටතේ අවලංගු කිරීමට ක්‍රියා කරගෙන යන බැව් මෙයින් දනුම් දෙමි. මේ පිළිබඳව යම් විරෝධතාවයක් ඇත්නම් එය 2018.01.31 දිනට පෙර මා වෙත ලිඛිතව දනුම් දිය යුතු ය.

උපලේඛනය

මාතලේ පරිපාලන දිස්ත්‍රික්කයේ, මාතලේ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ ගම්පහසිය පත්තුවේ, දොරකුඹුර ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ දුනුකේවත්ත නමැති ගමේ පිහිටා ඇත්තාවූ ද, මාතලේ ජ්‍යෙෂ්ඨ මිනින්දෝරු භාරයේ ඇති සහ සර්වේ ජනරාල්වරයා විසින් සම්පාදිත අංක 48/19/1 දරන ක්ෂේත්‍ර පත්‍රයෙහි අංක මු. පි. මා/677 දරන පිඹුරේ අංක 81 දරන බිම් කැබැල්ල වශයෙන් පෙන්නුම් කොට ඇත්තා වූ ද, ප්‍රමාණයෙන් හෙක්ටයාර් 0.139ක් විශාලත්වය ඇත්තාවූ ද, පහත දක්වෙන පරිදි මායිම් වූ ද, රජයේ ඉඩම - දොස්තරවත්ත (සෝමාස්ලෑන්ඩ්) ජනපදය

*උතුරට* : පාර ;
*නැගෙනහිරට* : කැබලි අංක 82 ;
*දකුණට* : කැබලි අංක 87 ;
*බටහිරට* : රජයේ ඉඩම.

කේ. පී. කේ. එල්. පී. මධුවන්තී,
ප්‍රාදේශීය ලේකම්,
මාතලේ.

2017 නොවැම්බර් මස 22 වැනි දින.

01-403

---

# ඉඩම් පිළිබඳ විවිධ දැන්වීම්

ඉඩම් කොමසාරිස් ජනරාල්ගේ අංකය : 4/10/54859
පළාත් ඉඩම් කොමසාරිස්ගේ අංකය : ප. ඉ. කො./06/කළු/වලල්/553.

**අංක 21(2) දරන රජයේ ඉඩම් රෙගුලාසිය යටතේ කෙරෙන නිවේදනය**

කළුතර දිස්ත්‍රික්කයේ, වලල්ලාවිට ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයට අයත් අංක 848 බී, ලිහිණියාව ග්‍රාම නිලධාරි වසමේ ලිහිණියාව ගමේ අ. ග. පි. 106 දරන පිඹුරේ කැබලි අංක 369 වශයෙන් දක්වෙන ප්‍රමාණයෙන් අක්කර 05, රූඩ් 01, පර්චස් 22 ක් පමණ වූ රජයේ ඉඩම් කැබැල්ලක් වාණිජ කටයුතු සඳහා හව්පෙ විදානලාගේ චන්ද්‍රසිරි ජයනන්ද මයා විසින් බදු ඉල්ලා ඇති බව මෙයින් නිවේදනය කෙරේ.

02. ඉල්ලා ඇති ඉඩමෙහි මායිම් මෙහි පහත සඳහන් වේ : -

*උතුරට* : කැබලි අංක 368 ;
*නැගෙනහිරට* : දොළ රක්ෂිතය හා කැබලි අංක 227 ;
*දකුණට* : කැබලි අංක 339 ;
*බටහිරට* : දොළ රක්ෂිතය හා කැබලි අංක 338.

03. ඉල්ලා ඇති ඉඩම අවශ්‍ය කාරණය සඳහා බදු දීමට පුළුවන. එබැවින් රජයේ සම්මත සෙසු කොන්දේසිවලට හා පහත සඳහන් කොන්දේසිවලට යටත් කොට ඉඩම බදු දීමට රජය අදහස් කොට තිබේ :-

*(අ) බදු කාලය .-* අවුරුදු තිහයි (30), (2017.11.27 දින සිට ඉදිරියට);

*වාර්ෂික බදු මුදල .-* ගරු ඇමතිතුමා බදු අනුමත කළ 2017 වර්ෂයේ ඉඩමේ තක්සේරු වටිනාකම රුපියල් මිලියන පහකට (රු. 5,000,000) වඩා අඩුවන අවස්ථාවල දී ප්‍රධාන තක්සේරුකරුගේ තක්සේරුව මත එම වර්ෂයේ ඉඩමේ වෙළෙඳපොළ වටිනාකමින් 2%කි. ගරු ඇමතිතුමා බදු අනුමත කල 2017 වර්ෂයේ ඉඩමේ තක්සේරු වටිනාකම රුපියල් මිලියන පහක (රු. 5,000,000) ට වැඩිවන අවස්ථාවල දී ප්‍රධාන තක්සේරුකරුගේ තක්සේරුව මත එම වර්ෂයේ ඉඩමේ වෙළඳපොළ වටිනාකමින් 4%කි. මෙම බදු මුදල සෑම අවුරුදු පහකට වරක් ම සංශෝධනය විය යුතු අතර, එය කලින් අවුරුදු 05 අවසානයේ අයකළ වාර්ෂික බදු මුදලට 20% ක් එකතු විය යුතු ය.

*වාර මුදල.-* වාර මුදලක් අය නොකෙරේ ;

*(ආ)* බදු ගන්නන් විසින් මෙකී ඉඩම වාණිජ කටයුතු සඳහා හැර වෙනත් කටයුත්තක් සඳහා නොයෙදවිය යුතු ය;

*(ඇ)* බදු ගන්නන් විසින් බද්ද ඇරඹුණු දින සිට අවුරුදු 01ක් ඇතුළත දී ප්‍රාදේශීය ලේකම්ගේ සිත් ගන්නා පරිදි මෙකී ඉඩම සංවර්ධනය කළ යුතු ය;

*(ඈ)* ප්‍රාදේශීය ලේකම් සහ අනෙකුත් ආයතන විසින් පනවා ඇති අනෙක් විශේෂ කොන්දේසිවලට ද මෙම බද්ද යටත් විය යුතු ය;

*(ඉ)* සාදා ඇති ගොඩනැගිලි මනා සංවර්ධන තත්ත්වයකින් පවත්වාගෙන යා යුතු ය;

*(ඊ)* ඉඩම බදු දී ඇති කල්හි බදුකරු විසින් ඉඩම ලබාගත් කරුණ සාක්ෂාත් කර ගැනීමට නියමිත කාල සීමාව තුළ අසමත් වූ විටක බද්ද අවසන් කිරීම සඳහා ක්‍රියා කරනු ලැබේ;

*(උ)* බද්ද ක්‍රියාත්මක වන 2017.11.27 වැනි දින සිට වසර 05 ක අවම කාලයක් ඉක්මවීමට පෙර අතුරු බදු දීම් හෝ පැවරීම් සඳහා අවසර දෙනු නොලැබේ;

*(ඌ)* බදු කුලිය නොකඩවා ගෙවිය යුතු අතර බදු පැහැර හැරීම් කළ අවස්ථාවන්හි දී ගිවිසුම ඉබේටම අහෝසි වනු ඇත.

මෙම නිවේදනය පළ වූ දින සිට සති 06ක් ඇතුළත දී අදාළ ඉඩම බදු නොදිය යුතු බවට පිළිගැනෙන හේතූන් ලියා මා වෙත ඉදිරිපත් නොකළහොත් ඉල්ලීම අනුව බද්ද දෙනු ලැබේ.

ඩී. ටී. එම්. ජයතිලක,
සහකාර ඉඩම් කොමසාරිස්,
ඉඩම් කොමසාරිස් ජනරාල් *වෙනුවට.*

2018 ජනවාරි මස 12 වැනි දින,
බත්තරමුල්ල, රජමල්වත්ත පාර ''මිහිකත මැදුර''
ඉඩම් මහලේකම් කාර්යාලයේ අංක 1200/6 හි
ඉඩම් කොමසාරිස් ජනරාල් දෙපාර්තමේන්තුවේ දී ය.

01-259

---

ඉඩම් කොමසාරිස් ජනරාල්ගේ අංකය : 4/10/43167.
පළාත් ඉඩම් කොමසාරිස්ගේ අංකය : සීපීසී/එල්සී/එල්ඩී/04/1/21/72.

**අංක 21(2) දරන රජයේ ඉඩම් රෙගුලාසිය යටතේ කෙරෙන නිවේදනය**

මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයට අයත් අංක දියබුබුල ග්‍රාම නිලධාරී වසමේ හිල්ගොල්ල ගමේ MA/MTL/2014/262 අනුරේඛනයේ කැබලි අංක C හා E වශයෙන් දැක්වෙන ප්‍රමාණයෙන් පර්චස් 9.6ක් සමිති කටයුතු සඳහා මා/රජයේ විද්‍යා විද්‍යාලයේ ආදි ශිෂ්‍ය සංගමය විසින් බදු ඉල්ලා ඇති බව මෙයින් නිවේදනය කෙරේ.

02. ඉල්ලා ඇති ඉඩමෙහි මායිම් මෙහි පහත සඳහන් වේ : -

*කැබලි අංක C:*

*උතුරට* : එම්. සී. පාර සඳහා වෙන් කළ බිම ;
*නැගෙනහිරට* : දියබුබුල ඔය දිගේ වෙන් කළ බිම ;
*දකුණට* : MA/MTL/2014/262 හි කැබලි අංක D ;
*බටහිරට* : එම්. සී. පාර හරහා වෙන් කළ බිම.

*කැබලි අංක E:*

*උතුරට* : MA/MTL/2014/262 හි කැබලි අංක D ;

*නැගෙනහිරට* : දියබුබුල ඔය දිගේ වෙන් කළ බිම ;
*දකුණට* : ඇළ දිගේ වෙන් කළ බිම ;
*බටහිරට* : එම්. සී. පාර සඳහා වෙන් කළ බිම.

03. ඉල්ලා ඇති ඉඩම අවශ්‍ය කාරණය සඳහා බදු දීමට පුළුවන. එබැවින් රජයේ සම්මත සෙසු කොන්දේසිවලට යටත් කොට ඉඩම බදු දීමට රජය අදහස් කොට තිබේ :-

*(අ)* *බදු කාලය* .- අවුරුදු පහයි (05), (2017.11.21 සිට වසර 05ක් ඉදිරියට).

*වාර්ෂික බදු මුදල* .- ප්‍රධාන තක්සේරුකරුගේ තක්සේරුව මත 2017 වර්ෂයේ ඉඩමේ නොදියුණු වටිනාකමින් 1/2% කි.

වාර මුදල . නැත

*(ආ)* බදු ගන්නන් විසින් බද්ද ඇරඹුන දින සිට අවුරුදු 01ක් ඇතුළත දී ප්‍රාදේශීය ලේකම්ගේ සිත් ගන්නා පරිදි මෙකී ඉඩම සංවර්ධනය කළ යුතු ය ;

*(ඇ)* බදු ගන්නන් විසින් මෙකී ඉඩම මා/රජයේ විද්‍යා විද්‍යාලයේ ආදි ශිෂ්‍ය සංගමයට අදාල සමිති කටයුතු සඳහා හැර වෙනත් කටයුත්තක් සඳහා නොයෙදවිය යුතු ය ;

*(ඈ)* ප්‍රාදේශීය ලේකම් සහ අනෙකුත් ආයතන විසින් පනවා ඇති අනෙක් විශේෂ කොන්දේසිවලට ද මෙම බද්ද යටත් විය යුතු ය;

*(ඉ)* සාදා ඇති ගොඩනැගිලි මනා සංවර්ධන තත්ත්වයකින් පවත්වාගෙන යා යුතු ය;

*(ඊ)* ඉඩම බදු දී ඇති කල්හි බදුකරු විසින් ඉඩම ලබාගත් කරුණ සාක්ෂාත් කර ගැනීමට නියමිත කාල සීමාව තුළ අසමත් වූ විටක බද්ද අවසන් කිරීම සඳහා ක්‍රියා කරනු ලැබේ;

*(උ)* 2017.11.21 දින සිට වසර 05ක් ගතවන තුරු පැවරීම් හෝ මෙම ඉඩම බදුගත් කරුණ සාක්ෂාත් කර ගැනීම සඳහා වන අතුරු බදු හෝ පැවරීම් හැර වෙනත් අතුරු බදු දීම් හෝ පැවරීම් සඳහා අවසර දෙනු නොලැබේ ;

*(ඌ)* බදු කුලිය නොකඩවා ගෙවිය යුතු අතර බදු පැහැර හැරීම් කළ අවස්ථාවන්හි දී ගිවිසුම ඉබේටම අහෝසි වනු ඇත.

මෙම නිවේදනය පළ වූ දින සිට සති 06ක් ඇතුළත දී අදාළ ඉඩම බදු නොදිය යුතු බවට පිළිගැනෙන හේතුන් ලියා මා වෙත ඉදිරිපත් නොකළහොත් ඉල්ලීම අනුව බද්ද දෙනු ලැබේ.

නුවනි සුදුසිංහ,
සහකාර ඉඩම් කොමසාරිස්,
ඉඩම් කොමසාරිස් ජනරාල් *වෙනුවට.*

2018 ජනවාරි මස 12 වැනි දින,
අංක 1200/6, ඉඩම් මහලේකම් කාර්යාලය, ''මිහිකත මැදුර'',
රජමල්වත්ත පාර, බත්තරමුල්ල හි,
ඉඩම් කොමසාරිස් ජනරාල් දෙපාර්තමේන්තුවේ දී ය.

01-260

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.

# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

අංක 2,054 - 2018 ජනවාරි මස 12 වැනි සිකුරාදා - 2018.01.12

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## (IVආ) වැනි කොටස - පළාත් පාලනය

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)



**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

**වැදගත් නිවේදනයයි**

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළ කරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළ කිරීම සඳහා දැන්වීම් භාරගැනීම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00 ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. **නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි ගැසට් පත්‍රය පළ වූ දින සිට තෙමසකට පසුව භාරගනු නොලැබේ.**

*ගැසට් පත්‍රයේ* පළ කරන සෑම දැන්වීමක් ම *ගැසට් පත්‍රය* පළ කරනු ලබන දිනට සති දෙකකට පෙර එනම්, 2018 පෙබරවාරි මස 02 වැනි දින පළ කරන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 ජනවාරි මස 19 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර තැපෑලෙන් හෝ ගෙනවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගනුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*"යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළ කළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළ කරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණ කර ඇත්තාක් සේ සැලකිය යුතු ය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති (*වැ. බ.*)

2018 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

මෙම *ගැසට් පත්‍රය www. documents.gov.lk* වෙබ් අඩවියෙන් බාගත කළ හැක.

5 - B 81243 — 5,403 (2018/01)
F 1 -

# පළාත් පාලන නිවේදන

## බදුල්ල මහ නගර සභාව

1947 අංක 16 දරන මහ නගර සභා ආඥාපනතේ 48(1) වගන්තිය යටතේ කරනු ලබන දැන්වීම

1987 අංක 16 දරන මහ නගර සභා ආඥාපනතේ 48(1) වගන්ති ප්‍රකාරව ඌව පළාතේ බදුල්ල දිස්ත්‍රික්කයේ බදුල්ල මහා නගර සභාව විසින් මෙහි පහත උපලේඛනයේ දක්වා ඇති මාර්ගය බදුල්ල මහා නගර සභාව වෙත පොදු ප්‍රයෝජනය සඳහා සන්තකයට ගැනීමට 2017.11.13 වැනි දින අංක 11/24 දරන කළමනාකරණ කමිටු අනුමැතියට අනුව තීරණය කර ඇත.

ප්‍රදේශයේ පොදු ජනතාව විසින් හෝ මෙම මාර්ගයට අදාළ ඉඩම් වල අයිතිකරුවන් ලෙස හිමිකම්පාන පාර්ශ්වයන් විසින් හෝ යම් විරෝධතාවයක් පළ කරනු ලබන්නේ නම්, මෙම නිවේදනය *ගැසට් පත්‍රයේ* පළ වූ දින සිට දින 30 ක් තුළදී තමන්ගේ විරෝධතාවය සාක්ෂි ඇතිව ලිඛිතව මහානගර සභාව වෙත දැනුම් දීමට ක්‍රියා කරන ලෙස මෙයින් දැනුම් දෙනු ලැබේ.

එකී කාලසීමාව තුළ දැනුම් දීම ප්‍රකාරව ක්‍රියා නොකරන්නේ නම් විරෝධතා නොකරන ලද සේ සලකා මෙම *ගැසට් නිවේදනය* මගින් ප්‍රකාශයට පත් කර ඇති පරිදි මෙකී උපලේඛනයේ සඳහන් මාර්ගය බදුල්ල මහා ගර සභාව සතු මාර්ගයක් වශයෙන් පිළිගෙන පාලනය කරනු ලබන බව ප්‍රකාශයට පත් කිරීමට කටයුතු කරන බව මෙයින් දන්වමි.

මහ නගර සභා ආඥාපනතේ
286 'අ' වගන්තිය යටතේ
බලයලත් නාගරික කොමසාරිස්.
මහ නගර සභාව,
බදුල්ල.

2017 දෙසැම්බර් මස  වැනි දින,
බදුල්ල මහ නගර සභා කාර්යාලයේ දී ය.

### උපලේඛනය

| *අනු අංකය* | *පාරේ නම* | *පටන් ගන්නා ස්ථානය* | *අවසන් වන ස්ථානය* | *වම්පස වරිපනම් අංක* | *දකුණු පස වරිපනම් අංක* | *දිග මීටර්* | *පළල මීටර්* |
|---|---|---|---|---|---|---|---|
| 01 | කැප්පෙටිපොල පාර (වම) දෙවන අතුරු මාර්ගය | කැප්පෙටිපොල පාර වම මාර්ගය | වරිපනම් අංක 199/7C වරිපනම් අංක 7 D/199 නිවස අසලිනි | වරිපනම් අංක 199/7, 199/A, 199B/, 199/C | වරිපනම් අංක 199/G, 199/F, 199/E, 199/D, | 80m | 4.5m |

01-401

---

## කළුතර නගර සභාව

1952 අංක 6 දරන පළාත් පාලන ආයතන සම්මත අතුරු ව්‍යවස්ථා පනතේ 3 වන වගන්තිය යටතේ කරනු ලබන නිවේදනය

255 අධිකාරය වන නගර සභා ආඥා පනතේ 184 අ වගන්තිය යටතේ මා වෙත පැවරී ඇති බලතල ප්‍රකාරව 1952 අංක 6 දරන පළාත් පාලන ආයතන සම්මත අතුරු ව්‍යවස්ථා පනතේ 3 වන වගන්තිය යටතේ සඳහන් විධිවිධාන අනුව වර්ෂ 2017 නොවැම්බර් මස 08 වැනි දින අංක 2601 යටතේ පහත සඳහන් තීරණය ගන්නට යෙදුණු බව මෙයින් නිවේදනය කරමි.

ගීතානි ඩී. ලොකුවැල්ල,
ලේකම් හා සභාවේ බලතල කාර්ය කර්තව්‍ය ක්‍රියාත්මක කිරීමේ නිලධාරි,
කළුතර නගර සභාව.

**තීරණය**

1989 අංක 12 දරන පළාත් සභා (ආනුශංගික විධිවිධාන) පනතේ 2 වන වගන්තිය සමග කියවිය යුතු 1952 අංක 06 දරන පළාත් පාලන ආයතන (සම්මත අතුරු ව්‍යවස්ථා) පනතේ 2 වන වගන්තිය යටතේ බස්නාහිර පළාතේ පළාත් පාලන විෂයභාර අමාත්‍යවරයා වශයෙන් සාදන ලදුව ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ අංක 1725/16 හා 2011.09.29 දින දරන *අතිවිශෙෂ ගැසට් පත්‍රය* යටතේ නගර සභා සීමාව තුළ වාහන නවතා තැබීම සඳහා ස්ථාන ඇති කිරිම හා වාහන වලින් ගාස්තු අය කිරීම පිළිබඳ අතුරු ව්‍ය-වස්ථාව ප්‍රකාශයට පත් කර ඇත.

1952 අංක 6 දරන පළාත් පාලන ආයතන (සම්මත අතුරු ව්‍යවස්ථා) පනතේ 3 වන වගන්තියේ වැඩිදුරටත් සඳහන් විධිවිධාන අනුව කළුතර නගර සභා සීමාව තුළ වාහන නවතා තැබීම සඳහා ස්ථාන ඇති කිරීම හා වාහන වලින් ගාස්තු අය කිරීම පිළිබඳ සම්මත අතුරු ව්‍යවස්ථාව කළුතර නගර සභාව විසින් වැළඳ ගන්නා බවත් එකී අතුරු ව්‍යවස්ථාවේ විධිවිධාන කළුතර නගර සභා බල ප්‍රදේශය සඳහා *ගැසට් පත්‍රයේ* පළ කරනු ලබන දින සිට බල පැවැත්විය යුතු බවත් 255 අධිකාරය වන නගර සභා ආඥාපනතේ 184 අ වගන්තිය යටතේ තීරණය කරමි.

තවද මෙම තීරණය ගනු ලබන මෙදින වන විට කළුතර නගර සභා බල ප්‍රදේශය සඳහා 1952 අංක 6 දරන පළාත් පාලන ආයතන සම්මත අතුරු ව්‍යවස්ථා පනතේ 3 වගන්තිය යටතේ අදළ කර ගනිමින් බලාත්මක කළුතර නගර සභා සීමාව තුළ වාහන නවතා තැබීම සඳහා ස්ථාන ඇති කිරීම හා වාහන වලින් ගාස්තු අය කිරීම පිළිබඳ සම්මත අතුරු ව්‍යවස්ථාව එම සම්මත අතුරු ව්‍යවස්ථාව යටතේ එතෙක් ගනු ලබන ක්‍රියාමාර්ගයන්ට අගතියක් නොවන පරිදි *ගැසට් පත්‍රයේ* පළ කරනු ලබන දින සිට කළුතර නගර සභා බලප්‍රදේශය සඳහා අදළ නොවිය යුතු බවට 255 අධිකාරය වන නගර සභා ආඥා පනතේ 184අ වගන්තිය යටතේ සඳහන් විධිවිධාන ප්‍රකාරව වැඩි දුරටත් තීරණය කරමි.

ගීතානි ඩී. ලොකුවැල්ල,
ලේකම් හා සභාවේ බලතල කාර්ය කර්තව්‍ය ක්‍රියාත්මක කිරීමේ නිලධාරි,
කළුතර නගර සභාව.

01-255

---

**ලංකාපුර ප්‍රාදේශීය සභාව**

අතුරු ව්‍යවස්ථා

**1952 අංක 06 දරන පළාත් පාලන ආයතන (සම්මත අතුරු ව්‍යවස්ථා) පනත**

1989 අක 12 පළාත් සභා (අනුෂාංගික විධිවිධාන) පනතේ 2 වන වගන්තියේ (1) වන උපවගන්තියේ (අ) ඡේදය සමග කියවිය යුතු 1952 අංක 06 දරන පළාත් පාලන ආයතන (සම්මත අතුරු ව්‍යවස්ථා) පනතේ 2 වන වගන්තියේ (1) වන උපවගන්තියෙන් උතුරු මැද පළාත් සභාවේ ප්‍රධාන අමත්‍ය හා පළාත් පාලන විෂයභාර අමාත්‍යවරයා විසින් සාදන ලද 2016 මාර්තු මස 23 දින අනුමත කරන ලද්ද වූ ද, 2016 මාර්තු මස 30 වැනි දි අංක 1960/35 *ගැසට් පත්‍රයේ* (IV (අ) වැනි පළාත් සභා කොටස පළකළ නිවේදනය ඉහත කී පළාත් පාලන ආයතන (සම්මත අතුරු ව්‍යවස්ථා) පනතේ 3 වන වගන්තියේ (1) වන උපවගන්තියේ විධිවිධාන වලට යටත්ව පිළිගැනීමටත් ලංකා පුර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය තුළ ක්‍රියාත්මක කිරීමටත් 2017.12.06 වැනි දින පැවති පරිපාලන කමිටුවේ තීරණ අංක 1341 යටතේ තීරණය කරන ලද බව නිවේදනය කරමි.

ඩබ්ලිව්. එම්. එස්. සෙනෙවිරත්න,
ලේකම්,
ලංකාපුර ප්‍රාදේශී සභාව,
තල්පොත,
පොළොන්නරුව.

01-361

## කරච්චි ප්‍රාදේශීය සභාව

### බල ප්‍රදේශයට ඇතුළත් ප්‍රදේශයන් දියුණු කළ ප්‍රදේශ වශයෙන් ප්‍රකාශයට පත් කිරීම

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 134(1) වැනි වගන්තිය යටතේ කරච්චි ප්‍රාදේශීය සභාවේ බල ප්‍රදේශය ඇතුළත පිහිටියා වූ පහත දැක්වෙන උපලේඛනයෙහි සඳහන් ප්‍රදේශයන්, දියුණු කළ ප්‍රදේශ වශයෙන් ප්‍රකාශයට පත් කරන බවට 2016 වසරේ දෙසැම්බර් මස 29 වැනි දින, අංක 126-11 දරන පරිපාලන නියෝගය මත කරච්චි ප්‍රාදේශීය සභාව විසින් තීරණය කරන ලදී. ප්‍රාදේශීය සභා ස්ථාපිත කිරීමට පෙර කිලිනොච්චිය නගර සභාව යන්නෙන් කරච්චි ප්‍රාදේශීය සභාවේ ප්‍රදේශ, දියුණු කළ ප්‍රදේශ වශයෙන් *ගැසට් පත්‍රයෙන්* ප්‍රකාශයට පත් කරමින් පළ කරනු ලැබූ සියලුම දැන්වීම් මෙයින් අවලංගු කර ඒ වෙනුවෙන් පහත උපලේඛනයෙන් දක්වා ඇති කරච්චි ප්‍රාදේශීය සභාවේ ප්‍රදේශ 2017.12.20 වැනි දින සිට ක්‍රියාත්මක වන පරිද්දෙන් දියුණු කළ ප්‍රදේශ වශයෙන් ඉහත කී පනතින් ප්‍රාදේශීය පළාත් පාලන සහකාර කොමසාරිස්වරයා වෙත පැවරී ඇති බලතල ප්‍රකාරව, කිලිනොච්චිය පරිපාලන දිස්ත්‍රික්කයේ ප්‍රාදේශීය පළාත් පාලන සහකාර කොමසාරිස්වරයා නඩරජා පිරබාකරන් වන මම අනුමැතිය ලබාදෙමින්, මෙයින් ප්‍රකාශයට පත් කරමි.

නඩරාජා පිරබාකරන්,
ප්‍රාදේශීය පළාත් පාලන සහකාර කොමසාරිස්,
ප්‍රාදේශීය පළාත් පාලන සහකාර කොමසාරිස් කාර්යාලය,
කිලිනොච්චිය.

2017 වසරේ දෙසැම්බර් මස 20 වැනි දින,
ප්‍රාදේශීය පළාත් පාලන සහකාර කොමසාරිස් කාර්යාලයේ දී ය.

### උපලේඛනය

| *අනු අංකය* | *කොට්ඨාසයේ නම* | *ග්‍රාම සේවක වසම* | *ග්‍රාම සේවක අංකය* | *ප්‍රදේශයන්හි ගණන* | *විශාලත්වය වර්ග කි.මී.* | *ප්‍රදේශ* |
|---|---|---|---|---|---|---|
| 1 | භාරතිපුරම් | පොන්නගර් | KN/07 | 3 | 7.42 | පොන්නගර් මධ්‍යම |
| | | | | | | අරිවියල්නගර් |
| | | | | | | වේදා කුඩිඉරුප්පු |
| | | භාරතිපුරම් | KN/08 | 3 | 6.85 | භාරතිපුරම් |
| | | | | | | භාරතිපුරම් උතුර |
| | | | | | | භාරතිපුරම් මධ්‍යම |
| | | මලයාලපුරම් | KN/09 | 2 | 5.85 | මලයාලපුරම් උතුර |
| | | | | | | මලයාලපුරම් දකුණ |
| 2 | උදයනගර් | විවේකානන්දනර් | KN/10 | 2 | 3.51 | විවේකානන්දනගර් නැගෙනහිර |
| | | උදයනගර් නැගෙනහිර | KN/12 | 1 | 1.45 | උදයනගර් නැගෙනහිර |
| | | උදයනගර් බටහිර | KN/13 | 1 | 1.85 | උදයනගර් බටහිර |
| | | කනගපුරම් | KN/26 | 1 | 9.1 | කනගපුරම් |
| 3 | සෙල්වානගර් | කිරුෂ්ණපුරම් | KN/11 | 2 | 7.72 | කිරුෂ්ණපුරම් |
| | | | | | | විනායගපුරම් |
| | | අම්බාල්කුලම් | KN/14 | 2 | 2.51 | අම්බාල්කුලම් |
| | | | | | | ආනන්දකුලම් |
| | | සෙල්වානගර් | KN/15 | 1 | 2.41 | සෙල්වානගර් |

| අනු අංකය | කොට්ඨාසයේ නම | ග්‍රාම සේවක වසම | ග්‍රාම සේවක අංකය | ප්‍රදේශ-යන්හි ගණන | විශාලත්වය වර්ග කි.මී. | ප්‍රදේශ |
|---|---|---|---|---|---|---|
| 4 | කනගාම්පිකයිකුලම් | තොණ්ඩමාන්නගර් | KN/17 | 2 | 1.62 | තොණ්ඩමාන්නගර් නැගෙනහිර |
| | | | | | | තොණ්ඩමාන්නගර් බටහිර |
| | | කනගාම්පිකයිකුලම් | KN/18 | 3 | 4.31 | කනගාම්පිකයිකුලම් |
| | | | | | | නිවාස 30 යෝජනා ක්‍රමය |
| | | | | | | සර්විස් පාර |
| | | අම්බාල්නගර් | KN/19 | 3 | 5.48 | තිරුවයියාරු 3 වැනි ඒකකය |
| | | | | | | කාන්තා සැළැස්ම |
| | | | | | | ශාන්තපුරම් |
| 5 | තිරුවයියාරු | තිරුවයියාරු | KN/20 | 4 | 7.09 | තිරුවයියාරු 1 වැනි ඒකකය |
| | | | | | | වින්සන් පාර |
| | | | | | | කෝරමෝට්ටයි |
| | | | | | | ඉරණයිමඩු |
| | | තිරුවයියාරු බටහිර | KN/21 | 1 | 4.06 | තිරුවයියාරු බටහිර |
| | | මරුදනගර් | KN/24 | 2 | 12.84 | මරුදනගර් බටහිර |
| | | | | | | ඉරාමනාදන් කමම් |
| 6 | කිලිනොච්චිය නගරය | කිලිනොච්චිය නගරය | KN/23 | 5 | 10.55 | කිලිනොච්චිය නගරය |
| | | | | | | පරවිප්පාඤ්චාන් |
| | | | | | | කණනන් කෝවිලඩි |
| | | | | | | කච්චේරියඩි |
| | | | | | | කරඩිප්පොක්කු |
| | | ඉරත්තිනපුරම් | KN/22 | 1 | 2.35 | ඉරත්තිනපුරම් |
| | | ආනන්දපුරම් | KN/16 | 2 | 2.25 | ආනන්දපුරම් නැගෙනහිර |
| | | | | | | ආනන්දපුරම් බටහිර |
| 7 | ගනේෂපුරම් | ගනේෂපුරම් | KN/29 | 1 | 5.45 | ගනේෂපුරම් |
| | | තිරුනගර් දකුණ | KN/27 | 1 | 1.7 | තිරුනගර් දකුණ |
| | | තිරුනගර් උතුර | KN/28 | 1 | 1.66 | තිරුනගර් උතුර |
| | | ජෙයන්තිනගර් | KN/30 | 2 | 3.85 | ජෙයන්තිනගර් උතුර |
| | | | | | | ජෙයන්තිනගර් දකුණ |

## කල්මුනේ මහනගර සභාව

ගෝසාතක ආඥාපනත (272 වැනි පරිච්ඡේදය)

අමුණා ඇති උපලේඛනයේ සඳහන් වන නම් ඉදිරියේ දක්වෙන ස්ථානයේ 2018 වර්ෂය සඳහා මස්කඩ ව්‍යාපාර පවත්වාගෙන යාම වෙනුවෙන් බලපත්‍ර ඉල්ලා ඇත. බලපත්‍ර ලබා දීම පිණිස කල්මුනේ මහනගර සභා බලප්‍රදේශය තුළ පදිංචිකරු වන යම් තැනැත්තකු හෝ විරෝධතාවය දක්වන්නේ නම්, එය ලිඛිතව පිටපත් දෙකකින් යුක්තව සකස් කර අදාළ දැන්වීම *ගැසට් පත්‍රයේ* පළකරනු ලබන දින සිට දින 14ක් ඇතුළත මා වෙත ලැබෙන සේ එවිය යුතුය. ගෝසාතක ආඥාපනත (272 වැනි පරිච්ඡේදය) 07 (2) වන වගන්තිය අනුව මෙම නිවේදනය නිකුත් කෙරේ.

ජේ. ලියාකත් අලි,<br>
මහනගර සභා කොමසාරිස්,<br>
මහනගර සභාව කල්මුනේ.

මහනගර සභා කාර්යාලය,<br>
කල්මුනේ,<br>
2017 නොවැම්බර් මස 07 වැනි දින.

උපලේඛනය

| *අනු.අංක* | *ඉල්ලුම්කරුගේ නම* | *කඩය පිහිටි ස්ථානය* | *කඩවල අංකය* | *ව්‍යාපාරය* |
|---|---|---|---|---|
| සායින්දමරුදු | | | | |
| 1 | කේ. එම්. තාජුදීන් | වෙරළ පාර, සායින්දමරුදු | 13 | හරක් මස් |
| 2 | එම්. එල්. ඒ. ජබ්බාර් | සාහිරා පාර, සායින්දමරුදු | 14 | හරක් මස් |
| 3 | එස්. එම්. නජාස් | ප්‍රධා පාර, සායින්දමරුදු - 01 | 15 | හරක් මස් |
| 4 | ඒ. එම්. නව්සාත් | ඔස්මන් පාර, සායින්දමරුදු | 16 | හරක් මස් |
| 5 | එස්. අබුල්හුදා | ප්‍රධාන පාර, සායින්දමරුදු - 02 | 18 | හරක් මස් |
| 6 | ඒ.එල්. එම්. නයීම් | අල් හිලාල් පාර, සායින්දමරුදු | 19 | හරක් මස් |
| 7 | එස්. හජ්මීර් | අල් හිලාල් පාර, සායින්දමරුදු | 20 | හරක් මස් |
| 8 | ඒ. එම්. හුසයින් | වොලිවෝරියන් ගම, සායින්දමරුදු | 21 | හරක් මස් |
| 9 | ඒ. එල්. මුහයිදීන් පිච්චයි | මාලිකයිකාඩු පාර, සායින්දමරුදු | 22 | හරක් මස් |
| 10 | එම්. එස්. ජහුෆර් | මාවඩි පාර, කල්යාණ පාර හන්දිය, සායින්දමරුදු | 37 | හරක් මස් |
| කල්මුනේකුඩි | | | | |
| 11 | ඒ. එම්. අන්වර් සදත් | සෙයිලාන් පාර, කල්මුනේකුඩි | 03 | හරක් මස් |
| 12 | එම්. වයි. ඒ. රහීම් | කාසිම් පාර, කලමුනේකුඩි | 04 | හරක් මස් |
| 13 | එස්. එම්. තාහීර් | ප්‍රධාන පාර, කට්ටයඩි, කල්මුනේ කුඩි | 05 | හරක් මස් |
| 14 | එම්. පී. ඒ. ජබ්බාර් | සෞදි බසාර්, ප්‍රධාන පාර, කල්මුනේකුඩි | 06 | හරක් මස් |
| 15 | එච්. ඒ. රහීම් | පුරාක්කුඩු හන්දිය, කල්මුනේකුඩි | 08 | හරක මස් |
| 16 | එම්. අයි.ආදම් බාවා | වෙරළ පාර, කල්මුනේකුඩි | 09 | හරක් මස් |
| 17 | ඒ. ආර්. අන්වර් | වෙරළ පාර, කල්මුනේකුඩි | 11 | හරක් මස් |
| මරුදමුනේ | | | | |
| 18 | ඒ. එච්. නියාස් | ප්‍රධාන පාර, මරුදමුනේ 01 | 23 | හරක් මස් |
| 19 | ඒ. එම්. අබුල්හුද | පල්ලියඩි වෙළෙඳ පොළ, මරුදමුනේ | 24 | හරක් මස් |
| 20 | එම්. අයි. විස්රුල් කරීම් | හාජියාර් පාර, මරුදමුනේ | 25 | හරක් මස් |

| අනු.අංක | ඉල්ලුම්කරුගේ නම | කඩය පිහිටි ස්ථානය | කඩවල අංකය | ව්‍යාපාරය |
|---|---|---|---|---|
| 21 | එම්. පී. එම්. නවාස් | ප්‍රධාන පාර, පෙරියනීලාවනේ | 27 | හරක් මස් |
| 22 | ඒ. එම්. හරුස්දීන් | මක්බූලියා පාර, මරුදමුනේ | 30 | හරක් මස් |
| 23 | එම්. අයි. එම්. මූනව්වර් | මධ්‍ය තෙක්කා පාර, මරුදමුනේ | 31 | හරක් මස් |
| 24 | යූ. එල්. නයීම් | අක්බර් ග්‍රාමම්, පෙරියනීලාවනේ | 32 | හරක් මස් |
| 25 | ඒ. සී. එම්. රෆාස් | හිජ්රා වීදිය, මරුදමුනේ | 34 | හරක් මස් |
| 26 | එම්. ඒ. එම්. නිජාම් | ප්‍රධාන පාර, මරුදමුනේ 03 | 36 | හරක් මස් |
| 27 | එම්. විස්රුල් කරීම් | ප්‍රධාන පාර, පාන්ඩිරුප්පුව (මුස්ලිම් කොටස) | 08 | එළුමස් |
| 28 | ජේ. රියාස් | ප්‍රධාන පාර, පෙරියනීලාවනේ | 10 | එළුමස් |
| 29 | යූ. එල්. එම්. හනීම් | ප්‍රධාන පාර, පෙරියනීලාවනේ (මුස්ලිම් කොටස) | 12 | එළුමස් |
| නට්පිට්ටිමුනේ | | | | |
| 30 | අයි. එල්. රිසාඩ් | ප්‍රධාන පාර, නට්පිට්ටිමුනේ | 40 | හරක් මස් |
| 31 | අයි. අසීස් | 163, ප්‍රධාන පාර, නට්පිට්ටිමුනේ - 01 | 41 | හරක් මස් |
| පාන්ඩිරුප්පුව | | | | |
| 32 | ඒ. අමානුල්ලා | පොදු වෙළෙඳ පොළ, පාන්ඩිරුප්පු | 17 | එළුමස් |

01-281

---

# විවිධ දැන්වීම්

## නිවිතිගල ප්‍රාදේශීය සභාව

### 2018 වර්ෂය සඳහා වරිපනම් බදු පැනවීම

නිවිතිගල ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්ය කර්තව්‍ය ඉටු කරන නිවිතිගල ප්‍රාදේශීය සභාවේ ලේකම්, එම්. කේ. පුෂ්පකුමාරි වන මම 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9.3 වගන්තිය සමග කියවිය යුතු එම පනතේ 134(1) වගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, නිවිතිගල ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළ වරිපනම් බදු පැනවීම සම්බන්ධයෙන් පහත සඳහන් තීරණය වර්ෂ 2017ක් වූ නොවැම්බර් මස 01 වැනි දින තීරණ අංක 83 යටතේ ගන්නට යෙදුන බව මහජනතාව වෙත මෙයින් නිවේදනය කරමි.

එම්. කේ. පුෂ්පකුමාරි,<br>ලේකම්,<br>නිවිතිගල ප්‍රාදේශීය සභාව.

2017 දෙසැම්බර් මස 22 වැනි දින,<br>නිවිතිගල ප්‍රාදේශීය සභාව,<br>නිවිතිගල.

